# ක්‍රිස්තියානි ධර්මය

## 3 ශ්‍රේණිය

අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව



සියලු ම පෙළපොත් ඉලෙක්ට්‍රොනික් මාධ්‍යයෙන් ලබා ගැනීමට
www.edupub.gov.lk වෙබ් අඩවියට පිවිසෙන්න.

# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා  ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති  අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ  අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ  අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

අපි වෙමු එක මවකගෙ දරුවෝ
එක නිවසෙහි වෙසෙනා
එක පාටැති එක රුධිරය වේ
අප කය තුළ දුවනා

එබැවිනි අපි වෙමු සොයුරු සොයුරියෝ
එක ලෙස එහි වැඩෙනා
ජීවත් වන අප මෙම නිවසේ
සොඳින සිටිය යුතු වේ

සැමට ම මෙත් කරුණා ගුණෙනී
වෙළී සමගි දමිනී
රන් මිණි මුතු නො ව එය ම ය සැපතා
කිසි කල නොම දිරනා

**ආනන්ද සමරකෝන්**



"අලුත් වෙමින්, වෙනස් වෙමින්, නිවැරැදි දැනුමෙන්
රටට වගෙ ම මුළු ලොවට ම වෙන්න නැණ පහන්"

<u>ගරු අධ්‍යාපන අමාත්‍යතුමාගේ පණිවුඩය</u>

ගෙවී ගිය දශක දෙකකට ආසන්න කාලය ලෝක ඉතිහාසය තුළ සුවිශේෂී වූ තාක්ෂණික වෙනස්කම් රැසක් සිදුවූ කාලයකි. තොරතුරු තාක්ෂණය, සන්නිවේදනය ප්‍රමුඛ කරගත් සෙසු ක්ෂේත්‍රවල ශීඝ්‍ර දියුණුවත් සමඟ වත්මන් සිසු දරු දැරියන් හමුවේ නව අභියෝග රැසක් නිර්මාණය වී තිබේ. අද සමාජයේ පවතින රැකියාවල ස්වභාවය නුදුරු අනාගතයේ දී සුවිශේෂී වෙනස්කම් රැසකට ලක් වනු ඇත. එවන් වටපිටාවක් තුළ නව තාක්ෂණික දැනුම සහ බුද්ධිය කේන්ද්‍ර කරගත් සමාජයක වෙනස් ආකාරයේ රැකියා අවස්ථා ද ලක්ෂ ගණනින් නිර්මාණය වනු ඇත. ඒ අනාගත අභියෝග ජයගැනීම වෙනුවෙන්, ඔබ සවිබල ගැන්වීම අධ්‍යාපන අමාත්‍යවරයා ලෙස මගේත්, අප රජයේත් ප්‍රමුඛ අරමුණයි.

නිදහස් අධ්‍යාපනයේ මාහැඟි ප්‍රතිලාභයක් ලෙස නොමිලේ ඔබ අතට පත් වන මෙම පොත මනාව පරිශීලනය කිරීමත්, ඉන් අවශ්‍ය දැනුම උකහා ගැනීමත් ඔබේ ඒකායන අරමුණ විය යුතු ය. එමෙන් ම ඔබේ මවුපියන් ඇතුළු වැඩිහිටියන්ගේ ශ්‍රමයේ සහ කැපකිරීමේ ප්‍රතිඵලයක් ලෙස රජය විසින් නොමිලේ පාසල් පෙළපොත් ඔබ අතට පත් කරනු ලබන බව ද ඔබ වටහා ගත යුතු ය.

ලෝකය වේගයෙන් වෙනස් වන වටපිටාවක, නව ප්‍රවණතාවලට ගැළපෙන අයුරින් නව විෂය මාලා සකස් කිරීමටත්, අධ්‍යාපන පද්ධතිය තුළ තීරණාත්මක වෙනස්කම් සිදු කිරීම සඳහාත් රජයක් ලෙස අප කටයුතු කරන්නේ රටක අනාගතය අධ්‍යාපනය මතින් සිදු වන බව අප හොඳින් ම අවබෝධ කරගෙන සිටින බැවිනි. නිදහස් අධ්‍යාපනයේ උපරිම ප්‍රතිඵල භුක්ති විඳිමින්, රටට පමණක් නොව ලොවට ම වැඩදායී ශ්‍රී ලාංකික පුරවැසියකු ලෙස නැඟී සිටින්නට ඔබ ද අදිටන් කරගත යුතු වන්නේ එබැවිනි. ඒ සඳහා මේ පොත පරිශීලනය කිරීමෙන් ඔබ ලබන දැනුම ද ඉවහල් වනු ඇති බව මගේ විශ්වාසයයි.

රජය ඔබේ අධ්‍යාපනය වෙනුවෙන් වියදම් කරන අතිවිශාල ධනස්කන්ධයට වටිනාකමක් එක් කිරීම ද ඔබේ යුතුකමක් වන අතර, පාසල් අධ්‍යාපනය හරහා ඔබ ලබා ගන්නා දැනුම හා කුසලතා ඔබේ අනාගතය තීරණය කරන බව ද ඔබ හොඳින් අවබෝධ කර ගත යුතු ය. ඔබ සමාජයේ කුමන තරාතිරමක සිටිය ද සියලු බාධා බිඳ දමමින් සමාජයේ ඉහළ ම ස්තරයකට ගමන් කිරීමේ හැකියාව අධ්‍යාපනය හරහා ඔබට හිමි වන බව ද ඔබ හොඳින් අවධාරණය කර ගත යුතු ය.

එබැවින් නිදහස් අධ්‍යාපනයේ උපරිම ප්‍රතිඵල ලබා, ගෞරවනීය පුරවැසියකු ලෙස හෙට ලොව දිනන්නටත් දේශ දේශාන්තරවල පවා ශ්‍රී ලාංකේය නාමය බබළවන්නටත් ඔබට හැකි වේවා! යි අධ්‍යාපන අමාත්‍යවරයා ලෙස මම ශුභ ප්‍රාර්ථනය කරමි.



**අකිල විරාජ් කාරියවසම්**

අධ්‍යාපන අමාත්‍ය

# පෙරවදන

ඔබ ජන්මලාභය ලබා ඇත්තේ ඉන්දීය සාගරයේ මුතු ඇටය යැයි විරුදාවලී ලත් රටකය. ඔබේ රට අන් රටවල් හා සැසඳූ කල කුඩා රටක් ලෙස පෙනුණද එහි අගය අමිල ය. එවන් අගනා පුණ්‍යභූමියක උපන් ඔබ සැම සැබවින්ම වාසනාවන්ත පිරිසකි. සිසු දරුදැරියන් වන ඔබ සැම, හොඳින් අධ්‍යාපනය ලබා ගුණ නැණ බෙලෙන් යුතු පුරවැසියන් ලෙස අනාගත ලෝකය එළිය කරනු දැකීම අපගේ ඒකායන අපේක්ෂාවයි. එම අපේක්ෂාව මුදුන්පත් කරලනු පිණිස අධ්‍යාපනය සඳහා අවශ්‍ය සියලු පහසුකම් නොමිලේ සැපයීමට රජය කටයුතු කරයි. මෙම පොත ඔබට තිළිණ කෙරෙන්නේ ද එහි එක් පියවරක් වශයෙනි.

නව ප්‍රාථමික විෂය මාලාවට අනුව මේ වන විට 1, 2, 3 සහ 4 ශ්‍රේණි සඳහා නව පෙළපොත් හඳුන්වා දී ඇත. 2020 වර්ෂයේ දී 5 වැනි ශ්‍රේණියට නව පෙළ පොත් හඳුන්වා දීමෙන් අනතුරුව මෙම අදියරේ ප්‍රාථමික විෂයමාලා සංශෝධනය නිමාවට පත්වේ. 1 ශ්‍රේණියේ සිට 5 ශ්‍රේණිය දක්වා ප්‍රාථමික ශ්‍රේණිවල සිප් සතර හදාරන ශිෂ්‍ය ප්‍රජාව වෙනුවෙන් රජය තිළිණ කරන පෙළපොත් සංඛ්‍යාව 30 ක් පමණ වේ. මේ වටිනා සම්පතින් ජීවිතය ආලෝකවත් කර ගැනීමට කටයුතු කිරීම ඔබ සැමගේ වගකීම විය යුතුය.

මෙම පෙළපොත ඔබ අතට පත් කිරීම සඳහා කැපවීමෙන් කටයුතු කළ ලේඛක හා සංස්කාරක මණ්ඩල සාමාජික මහත්ම මහත්මීන්ට සහ අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයට මාගේ ස්තුතිය පුද කරමි.

**ඩබ්ලිව්. එම්. ජයන්ත වික්‍රමනායක,**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්,
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව,
ඉසුරුපාය,
බත්තරමුල්ල.
2019.04.10

**නියාමනය හා අධීක්ෂණය**

ඩබ්ලිව්. එම්. ජයන්ත වික්‍රමනායක - අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**මෙහෙයවීම**

ඩබ්ලිව්.ඒ. නිර්මලා පියසීලි - අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් (සංවර්ධන)
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සම්බන්ධීකරණය**

ආර්.ඩී. විජේවික්‍රම - නියෝජ්‍ය කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සහාය සම්බන්ධීකරණය**

එස්.ජී.ඩී.එන්.එල් සමරකෝන් -සහකාර කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සංස්කාරක මණ්ඩලය**

ගරු ජේ. ඒ. මිහිරි ද සිල්වා දේවගැතිතුමිය - ලේකම්, ක්‍රිස්තියානි අධ්‍යාපන කොමිසම,
ජාතික ක්‍රිස්තියානි මණ්ඩලය,
බෞද්ධාලෝක මාවත, කොළඹ 07.

ඩබ්. ශ්‍රියානි හේමලතා ප්‍රනාන්දු - විදුහල්පති, බප/පිළි ධම්මරතන විද්‍යාලය,
ඉදිබැද්ද, මොරටුව.

ගෞ. සී. ඩබ්. සී. බාල්රාජ් දේවගැතිතුමා - විදුහල්පති, ශාන්ත තෝමස් විදුහල,
බණ්ඩාරවෙල.

**ලේඛක මණ්ඩලය**

එස්. පී. සී. ප්‍රනාන්දු - ගුරු වෘත්තිය, වෙස්ලි විද්‍යාලය
කොළඹ 06

ඒ. කිතුමිණි සල්ගාදු - ගුරු වෘත්තිය, බප/මීග/ කටුනායක ම.වි,
කටුනායක.

එම්. පී. සෙල්වනිදි පෙරේරා - ගුරු වෘත්තිය, (විශ්‍රාමික)

**භාෂා සංස්කාරක**

රංජිත් ඉලුප්පිටිය - නියෝජ්‍ය කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**චිත්‍ර හා පිටකවරය**

ඩබ්.පී. සුසිල් ජයශාන්ත පෙරේරා - චිත්‍ර ශිල්පි

**පරිගණක අක්ෂර සංයෝජනය හා පිටු සැලසුම්කරණය**

එල්. ඒ. සඳුනි නිලංකා පත්මසිරි -පරිගණක සහායක,
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

# පටුන

පිටු අංකය

## කුරුසිය





## ශුද්ධ බයිබලය



## දෙව් මැදුර

# 1 දෙවිඳු මැවූ ලෝකය

**උත්පත්ති 1 : 1 - 2 : 1**



මෙසේ දෙවියන් වහන්සේ දින හයකින් ලෝකය මවා නිම කළ සේක.

**දෙවියන් වහන්සේ මැවූ මේ පුදුම ලෝකය ගැන ස්තුතියි!**



**කටපාඩම් පදය**

**ආරම්භයේ දී දෙවියන් වහන්සේ අහසත් පොළොවත් මැවූ සේක.**

**(උත්පත්ති 1:1)**



පැවරුම

දෙවියන් වහන්සේ පහත දැක්වෙන මැවිලි මැවූ දවස අදාළ කොටුව තුළ ලියන්න.

i. සූර්යයා, චන්ද්‍රයා සහ තාරකා ☐

ii. සාගරය හා පොළොව ☐

iii. ආලෝකය ☐

iv. ගව මහිෂයන්, උරගයන්, වන සතුන්, පුරුෂයා හා ස්ත්‍රිය ☐

v. අහස ☐

vi. ජලජ සතුන් හා පක්ෂීන් ☐

# 2 නෑදෑයන්ගේ හා අසල්වැසියන්ගේ ආදරය හා රැකවරණය



දෙසැම්බර් මාසයේ දින කිහිපයක් නොකඩවා වර්ෂාව පැවතිණි. වෙන ද මෙන් රන්මලීගේ නිවස අසලට වතුර ගලා එන්නට විය. රන්මලී අම්මා ද තාත්තා ද සමග යාච්ඤා කළා ය. අසල්වාසීහු රන්මලීගේ නිවසට වතුර ගලා ඒම වැළැක්වීමට උත්සාහ කළහ. වර්ෂාව තව දුරටත් නතර නොවූයෙන් රන්මලීගේ පුංචි අම්මා සහ බාප්පා ඔවුන් තම නිවසට කැඳවාගෙන ගියහ. අසල්වැසියෝ ඔවුන්ගේ නිවසේ බඩු බාහිරාදිය ආරක්ෂා කිරීමට කටයුතු කළහ.

දින කිහිපයකට පසු වැස්ස මඳක් නතර විය. වැහි වතුර කෙමෙන් කෙමෙන් බැස යන්නට විය.

රන්මලීගේ පියා තම නිවසට පැමිණ නිවස පිරිසිදු කිරීමට පටන් ගත්තේ ය. එවිට අසලවැසියෝ ද පැමිණ නිවස සෝදා පිරිසිදු කිරීමට උදවු කළහ. රන්මලීට තම දෙමවුපියන් සමග පැමිණ නිවසේ පදිංචි වන්නට ඔවුහු සියලු දෙනා උදවු කළහ.

රන්මලී, මව සහ පියා සමග දෙවිපියාණන් වහන්සේ ඉදිරියේ දණ ගසා තම ජීවිත හා ඔවුන්ට අයත් දේ ආරක්ෂා කරදීම ගැන තුති පිදුවා ය. තමන් විපතට පත්වූ අවස්ථාවේ තමන්ට උදවු කළ අසල්වාසීන් හා නෑදෑයින් ගැන ද තුති පිදුවා ය. එසේ ම ඔවුන් මුණ ගැසී ඔවුන්ට තම ස්තුතිය පුද කළා ය.

**ඥාතීන් හා අසල්වැසියන්ගෙන් ලැබෙන ආදරය හා රැකවරණය ගැන දෙවි පියාණන් වහන්සේට තුති පුදමු!**



ආදරණීය දෙවිපියාණන් වහන්ස,

ඔබ වහන්සේ අපට ලබා දී ඇති අපේ දෙමාපියන් ගැන ස්තුති කරමු. එලෙස ම අපේ නෑදෑයන් සහ අසල්වැසියන් ගැන ද ස්තුති වේවා! ඒ සියලු දෙනාගෙන් අපට ලැබෙන ආදරය ගැන, ආරක්ෂාව හා රැකවරණය ගැන ද අපට ලැබෙන කරුණාව ගැන ද ඔබ වහන්සේට ස්තුති කරමු.

ආමෙන්.



පැවරුම

1. නෑදෑයන්ගේ හා අසල්වැසියන්ගේ ආදරය හා රැකවරණය ලබන අවස්ථාවක් චිත්‍රයට නගන්න.

# 3 රැකවරණය සලසන දෙවියන් වහන්සේ

**ශු. මතෙව් 2 : 13 - 15**



ජේසුස් වහන්සේ ඉපදුණාට පසු, බිලිඳු ජේසුස් වහන්සේගේ පියා වූ ජෝසෙප්ට දේව දූතයෙක් සිහිනයකින් දර්ශනය විය. බිලිඳු ජේසුස් වහන්සේ රැගෙන එතුමාගේ මෑණියන් ද සමග මිසරයට යන ලෙස දේව දූතයා ජෝසප්ට දන්වූවේ ය. ඊට හේතුව හෙරොද් රජ, ළදරු ජේසුස් වහන්සේ මරා දැමීමට සොයන නිසා බව දේවදූතයා පැවසුවේ ය.

එදින රාත්‍රියේ ම ජෝසෙප් ළදරු ජේසුස් වහන්සේ ද උන්වහන්සේගේ මෑණියන් ද රැගෙන, මිසරයට පිටත් ව ගියේ ය. හොරොද් රජතුමාගේ මරණය දක්වා ම ඔවුහු එහි නැවතී සිටියෝ ය.

දෙවි පියාණන් වහන්සේ මේ ආකාරයට බිළිඳු ජේසුස් වහන්සේට රැකවරණය සැලසූ සේක.

දෙවි පියාණන් වහන්සේ අප ද මේ ලෙසට ම නිරතුරුව රැක බලා ගන්නා සේක.

**මෙසේ අප රැක බලාගන්නා දෙවිපියාණන් වහන්සේට ප්‍රශංසා වේවා!**



ආදරණීය දෙවිපියාණන් වහන්ස, අද දවසේත් සැමදාමත් මා ආරක්ෂා කරගනු මැනව.

ආමෙන්.



පැවරුම

පහත සඳහන් වගන්ති කියවා හරි නම් (✔) ලකුණ ද වැරැදි නම් (X) ලකුණ ද යොදන්න.

1. බිළිඳු ජේසුස් වහන්සේ රැගෙන යන ලෙස දැන්වූයේ දේව දූතයෙකි. (     )
2. එතුමා රැගෙන යන්නට කීවේ ගලීලයට ය. (     )
3. එදින රාත්‍රියේ ම ඔවුහු පිටත් ව ගියෝ ය. (     )
4. ළදරු ජේසුස් වහන්සේ මරා දැමීමට සෙවුවේ පාරාවෝ රජතුමා ය. (     )

# 4 ප්‍රාතිහාර්යාත්මක දිව්‍ය පෝෂණය

නික්මයාම 16 : 11 - 15



නයනා : සීයේ, අද අපට මෝසෙස් ඉශ්‍රායෙල් සෙනඟ සමග පොරොන්දු දේශයට ගිය ගමනේ තවත් සිද්ධියක් කියා දෙන්නකෝ.

සීයා : හොඳයි, මම දුවලා පුතාලට මිසරයේ වහල් ව සිටි ඉශ්‍රායෙල් ජනතාව රතු මුහුද තරණය කළ සිද්ධිය කියා දුන්නා මතක ද?

අමර : ඔව් සීයේ. ඊට පස්සේ මොකද වුණේ?

සීයා : ඊට පස්සේ, ඉශ්‍රායෙල් සෙනඟ පාළුකරය මැදින් ගියා. පාළුකරයේ ඔවුන්ට ආහාර නොතිබුණු නිසා සෙනඟ දෙවියන් වහන්සේටත්, මෝසෙස්ටත් විරුද්ධව මැසිවිලි කියන්නට පටන් ගත්තා.

නයනා : ඉතින් ඒ සෙනඟ ආහාර සොයා ගත්තේ කොහොම ද?

සීයා : එතකොට දෙවියන් වහන්සේ මෝසෙස්ට කතා කරලා මෙහෙම කිව්වා: "ඉශ්‍රායෙල් සෙනඟගේ මැසිවිලි මට ඇසුණා. සවස ඔබට මාංසමය ආහාර ලැබෙනවා. උදයේ ඔබට රොටි ලැබෙනවා."

අමර : ආනේ! ඒ ආහාර කොහොම ද ලැබුණේ?

සීයා : හරි පුදුම දෙයක් සිදුවුණා. සවස් කාලයේ වටුවන් වර්ගයක් ඇවිත් කඳවුර වසා ගත්තා. ඒ වටුවන්ගෙන් සෙනඟට මාංසමය ආහාර ලැබුණා.

උදය කාලයේ කඳවුරේ සෑම තැන ම පිනි තට්ටුවක් තිබුණා. පිනි වාෂ්ප වී ගියා ම පාළුකරයේ භූමිය මත සිහින් වටකුරු හිම වැනි දෙයක් තිබුණා.

නයනා : ආ.... සවස් කාලයෙත් උදේ කාලයෙත් සෙනඟට ආහාර ලැබිලා නේද සීයේ?

සීයා : ඔව් මෝසෙස් මේ සෙනඟට කීවා, "මෙය ඔබට දෙවි පියාණන් වහන්සේ ආහාර සඳහා සැපයූ දේ" බව. ඉශ්‍රායෙල් සෙනඟ ඒ ආහාරයට 'මන්නා' යන නම තැබුවා. ඉන් ඔවුන් රොටි සාදා ගත්තා. ඒක මහා ප්‍රාතිහාර්යයක් වුණා.

අමර : දෙවි පියාණන් වහන්සේ පාළුකරයේ ඉශ්‍රායෙල් ජනතාවට මන්නා හා වටුවන්ගෙන් ආහාර සැපයූ බව නම් හරි ම පුදුමයි නේද?

සීයා : ඔව්, අපි අදහන දෙවි පියාණන් වහන්සේට කළ නොහැකි දෙයක් නෑ. උන්වහන්සේ ඉශ්‍රායෙල් සෙනඟ පමණක් නොවේ අප හැමත් එසේ ම පෝෂණය කරනවා.

**දෙවි පියාණන් වහන්සේ අප ද පෝෂණය කරන සේක!**



**කටපාඩම් පදය**

**දෙවිඳුනි, අපි ඔබට තුති කරමු; ඔබේ ප්‍රබල ක්‍රියා ප්‍රකාශ කරමු. ඔබේ නාමයට අයැද තුති කරන්නෙමු.**

(ගීතාවලිය 75:1)



පැවරුම

කෙටි පිළිතුරු සපයන්න.

1. පාඩමේ සඳහන් පරිදි ඉශ්‍රායෙල් ජනතාවට පාළුකරයේ ගමන් කිරීමේ දී මුහුණ දීමට සිදු වූ දුෂ්කරතාව කුමක් ද?
2. සෙනඟ මැසිවිලි කීවේ කාට විරුද්ධව ද?
3. දෙවියන් වහන්සේ උදය කාලයේ සැපයුවේ මොනවා ද?
4. දෙවියන් වහන්සේ සවස් කාලයේ සැපයුවේ මොනවා ද?

# 5 ඒලීගේ මඟපෙන්වීම ලබාගත් සාමුවෙල්

1 සාමුවෙල් 3 : 1 - 10



සාමුවෙල් කුඩා අවධියේ දී ඒලී පූජකයා යටතේ දෙවියන් වහන්සේට සේවය කරමින් සිටියේ ය. ඒ කාලයේ ස්වාමීන් වහන්සේගෙන් ලැබුණු පණිවුඩ දුර්ලභ විය.

දිනක් ඒලී නිදාගෙන සිටියේ ය. සාමුවෙල්, ස්වාමීන් වහන්සේගේ ගිවිසුම් කරඬුව තිබුණු ශුද්ධ ස්ථානයෙහි නිදාගෙන සිටියේ ය. එවිට ස්වාමීන් වහන්සේ සාමුවෙල්ට අඬ ගැසී ය. සාමුවෙල් ද "මම මෙහි ය" යි කීවේ ය. පසුව සාමුවෙල් ඒලී ළඟට ගොස් "ඔබ මට අඬ ගැසුවේ දූ" යි ඇසුවේ ය. ඒලී ද "මා අඬ ගැසුවේ නැත. ගොස් නිදා ගන්න" යි කීවේ ය.

ස්වාමීන් වහන්සේ නැවතත් සාමුවෙල්ට අඬ ගැසූ සේක. සාමුවෙල් පෙර පරිදි ම උන්වහන්සේට පිළිතුරු දුන්නේ ය. ඒලීගෙන් ද ගොස් විමසුවේ ය.

ස්වාමීන් වහන්සේ තුන් වන වතාවටත් සාමුවෙල්ට අඬ ගැසූ සේක. එවිට සාමුවෙල් නැවතත් ඒලී ළඟට ගොස් ඔබ මට කතා කළේ ද මම මෙහි ය" යි පැවසුවේ ය. එවිට ස්වාමීන් වහන්සේ ළමයාට අඬ ගසන බව ඒලී පූජකයා තේරුම් ගෙන, "ඔබ ගොස් නිදා ගන්න. නැවත අඬ ගැසුවොත්, සමිඳාණන් වහන්ස කතා කළ මැනව. ඔබ වහන්සේගේ මෙහෙකරුවා සවන් දී සිටිනවා" කියන්නැ යි කීවේ ය.

සාමුවෙල් ඊට කීකරු වී ගොස් නිදා ගත්තේ ය. ස්වාමීන් වහන්සේ පළමු වතාවල දී මෙන් "සාමුවෙල්, සාමුවෙල්" කියා අඬ ගැසූ සේක. සාමුවෙල් පිළිතුරු දෙමින් "කතා කළ මැනව. ඔබ වහන්සේගේ මෙහෙකරුවා සවන් දී සිටිනවා" යි කීවේ ය.

කුඩා සාමුවෙල් මෙසේ ඒලී පූජකයා කියූ ලෙස ක්‍රියා කළ නිසා දෙවියන් වහන්සේ ඔහුට කතා කළ දේට සවන් දීමට හැකි විය. පුංචි අපිත් හැමවිට ම ගුරුවරුන්ගේ හා දේව සේවකයන්ගේ මඟ පෙන්වීම් අනුව ක්‍රියා කිරීමට පුරුදු වෙමු.

**අපි ගුරුවරු සහ දේව සේවකයන්ගේ මඟපෙන්වීම සොයමු.**



**ආදරණීය ජේසුස් වහන්ස,**

**කුඩා සාමුවෙල් ඒලී පූජකයාගේ මඟ පෙන්වීම සොයා ක්‍රියා කළ ලෙස, අපට ද දේව සේවකයන්ගේ සහ ගුරුවරුන්ගේ මඟ පෙන්වීම අනුව ක්‍රියා කරන්නට පිහිට වෙන්න.**

**ආමෙන්.**



පැවරුම

1. දෙවියන් වහන්සේ සාමුවෙල්ට කතා කිරීමේ සිදුවීම චිත්‍රයට නගන්න.

# 6 සාමයේ කුමරා ගවලෙනක උපදියි

**ශු. ලූක් 2 : 8 - 16**






**සාමයේ කුමරුන් වූ ජේසුස් වහන්සේ බිලිඳු දිළිඳු දරුවකු ලෙස මෙලොවට වැඩිය සේක. උන්වහන්සේ ලොවට ගෙනා සාමය, අපි ද අන් අයට පතුරවමු!**



**කටපාඩම් පදය**

"අතිඋසස් තැන්හි දෙවිඳුන්ට මහිමය ද මිහිපිට දේව වරප්‍රසාදය ලත් ජනයා අතර සාමය ද වේවා" යි ගැයූහ.

(ශු. ලූක් 2:14)



**පැවරුම**

පහත සඳහන් ඡේදය කියවා හිස්තැනට ගැළපෙන පිළිතුර වරහන තුළින් තෝරා ලියන්න.

(මංගල, දාවිත්, ගව ඔරුවක, ක්‍රිස්තුස්, දේව දූතයා, සලකුණ)

එහෙත් ............................ ඔවුන්ට කතාකොට, "බිය නොවන්න මෙන්න, සකල ජනයාහට ඉතා ආනන්දජනක ....................... පුවතක් මම ඔබ වෙත ගෙනෙමි. මක්නිසා ද, ස්වාමීන් වන ............................ නම් ගැළවුම්කාරයෙක් ඔබ හට ............................ ගේ නුවර අද උපන්නේ ය. රෙදිවලින් ඔතා ................................. බාවා සිටින බිලිඳෙක් ඔබට සම්බ වන්නේ ය. එය ඔබට ............ ...................ක් ය" යි කීය.

# 7 සාමය පතුරමු

ශු. මතෙව් 5 : 9

**පාසලේ දී සාමය පතුරමු.**



ඔය දෙන්නා ම ගහ ගන්නකොට දෙදෙනාට ම රිදෙනවා නේද?



සමාදානයෙන් ඉන්නකොට අපි හැමෝට ම සතුටු වෙන්න පුළුවන්

**ක්‍රීඩා පිටියේ දී සාමය පතුරමු.**



නීතිය කඩකරලා ක්‍රීඩාව ජයග්‍රහණය කළාට ඒක නියම ජයග්‍රහණය නොවේ.



සාමයෙන් ක්‍රීඩා කළා ම තමයි, උපරිම සතුට ලබන්න පුළුවන්.

දේවස්ථානයේ හා සබත් පාසලේ දී සාමය පතුරමු.





අපෝ ඔයා වාඩිවෙන්න මා ළඟට එන්න එපා.

ඒ මොකද ඒ? අපි හැමෝ ම දෙවියන් වහන්සේගේ දරුවෝ නේද?

අපි හැමෝ ම දේව දරුකමට සුදුසුකම් ලබන්නේ සාමකාමී ලෙස ක්‍රියා කළොත් පමණයි.

**මම සාමය පතුරවන දරුවෙක්මි!**



**ජේසුස් වහන්ස,**

**අන් අය සමග සාමයෙන් ජීවත් වන්න අපට පිහිට වන්න. අසමගිකම් ඇති වන අවස්ථාවල සාමය ඇති කරන දූතයන් ලෙස අප මෙහෙයවන්න.**

**ආමෙන්.**



පැවරුම

1. හිස්තැන් පුරවන්න.

   ........................................ ඇති කරන්නෝ .......................... ඔවුහු ................................ පුත්‍රයෝ යැයි කියනු ලබන්නෝ ය.

2. ශු. මතෙව් 5:9 ලියා පොත් සලකුණක් සාදන්න.

# 8 සාමයේ රජුන් ජෙරුසලමට පිවිසීම

ශු. ලූක් 19 : 35 - 38



**ගුරුතුමිය :** අද අපට තියෙන්නේ, ජේසුස් වහන්සේ රාජ තේජසින් ජෙරුසලමට පිවිසි අන්දම රඟ දක්වන්න. දුවලා පුතාලාට ඒ සිද්ධිය මතක ද? ජේසුස් වහන්සේ කුරුසිපත් වීමට පෙර අවසාන සතියේ දී තමා මෙය සිදුවුණේ.

**ළමයි :** ඔව් ගුරුතුමී, අපට එහෙනම් කොටළුවෙකුත් ඕනෑ වේවි නේද?

**ගුරුතුමිය :** ඇත්ත ම කොටළුවෙක් ඕනෑ නෑ. අපේ පුතාලා දෙදෙනෙක් ඉදිරියට එන්න. දැන් ඔය දෙන්නට පුළුවන් කොටළුවකු හැටියට ඉන්න.
(දරුවෝ දෙදෙනා අත් අල්ලාගෙන කොටළුවකු සේ සැරසෙති)

**නිසල් :** ජේසුස් වහන්සේ වගේ කොටළුවා පිට වාඩිවෙලා යන්න මම කැමතියි.

**ගුරුතුමිය :** හොඳයි. එහෙනම් නිසල් ඉදිරියට එන්න. ළහිරුගේ කර පිට පරිස්සමෙන් වාඩිවෙන්න.

(සෙසු ළමයි සෙනඟ සේ සැරසී සිටිති. ඔවුහු තමන්ගේ උතුරු සළු බිම හෙලා ජේසුස් වහන්සේ එන මඟ අතුරවති.

**ළමයි :** "සමිඳුන් නමින් වඩිනා රජුට ආසිරි වේවා!"
"ස්වර්ගයෙහි සාමය ද අතිඋසස් තැන්හි මහිමය ද වේවා!"

**ගුරුතුමිය :** ජේසුස් වහන්සේ ජෙරුසලමට රජකු වගේ පිවිසි ගමන අදත් අපි "තල් අතු ඉරිදට" සමරනවා. ඒත් අපට පෙනෙනවා, උන්වහන්සේ පැමිණියේ අශ්වයකුගේ පිට නොව කොටළුවකුගේ පිට උඩ බව. එයින් පෙන්වන්නේ උන්වහන්සේ ලෝකයට සාමය ගෙන ඒමට පැමිණි බව හා උන්වහන්සේගේ නිහතමානීකමයි.

**අපි සාමයේ රජු වූ ජේසුස් වහන්සේ,**

**ආදර්ශයට ගනිමු!**

**අනුගමනය කරමු!**



**කටපාඩම් පදය**

**"සමිඳුන් නමින් වඩිනා රජුට ආසිරි වේවා!**
**ස්වර්ගයෙහි සාමය ද අතිඋසස් තැන්හි මහිමය ද වේවා!"**
**යි කීහ.**

**(ශු. ලූක් 19:38)**



පැවරුම

1. ප්‍රහේලිකාව පුරවන්න.

පහළට

1. ජේසුස් වහන්සේ පෙරහැරින් ගමන් කළේ මේ නගරයට ය.

3. ජේසුස් වහන්සේ ගමන් කළේ මේ සතා පිට නැගී ය.

හරහට

2. ජේසු තුමා සතා පිට නැග එනු දැක සෙනඟ තමන්ගේ ............................ මහ මඟ දැමුවෝ ය.

| | | | | |
|---|---|---|---|---|
| | | | | 3 කො |
| | | 1 ජේ | | |
| 2 උ | තු | | ස | |
| | | | | වා |
| | | ල | | |
| | | ම | | |

2. ගොක් කුරුසියක් සාදා නිවසෙහි එල්ලා තබන්න.

# 9 යාච්ඤා කරමු

ශු. මාක් 6 : 46 , ලූක් 6 : 12
ශු. මතෙව් 18 : 19 - 20



අපට දෙවියන් වහන්සේ සමග සම්බන්ධ විය හැකි හොඳ ම මාර්ගය තමයි යාච්ඤාව. යාච්ඤාව තනි ව ම කරන්නත් පුළුවන්. ඒ වගේ ම අන් අය සමග එකතු ව සාමූහික ව කරන්නත් පුළුවන්.

ජේසුස් වහන්සේ මේ ලෝකයේ ජීවත් වූ කාලයේ  දිනපතා යාච්ඤා කිරීමට පුරුදු ව සිටි සේක. එතුමා කඳු මුදුනේ දීත්, පාළුකරයේ දීත් තනි ව ම යාච්ඤා කළ සේක.

එමගින් දෙවියන් වහන්සේ සමග සම්බන්ධතාව නොකඩවා තබා ගත් සේක.

එසේ ම ජේසුස් වහන්සේ අපට, එක්සත් ව යාච්ඤා කරන්නට ද උගන්වා තිබේ. දෙදෙනෙක් හෝ තුන් දෙනෙක් එක් ව ජේසුස් වහන්සේගේ නාමයෙන් රැස් ව සිටිත් ද උන්වහන්සේ ඒ මැද වැඩ සිටිනා බව ජේසුස් වහන්සේ ම පැවසූ සේක.

මෙසේ දෙදෙනෙක් හෝ කිහිප දෙනෙක් පියාණන් වහන්සේගෙන් අයදින දේ සඳහා උන්වහන්සේ සවන් දෙන බවට ද දේව වචනයේ පොරොන්දුවක් දී තිබේ.

**අපි දිනපතා තනි ව ම ද අන් අය සමග ද යාච්ඤාවේ යෙදෙමු!**



**කටපාඩම් පදය**

ඔබ අතරෙන් යමෙක් දුක් විඳින්නේ නම් ඔහු යාච්ඤා කෙරේවා! යමෙක් ප්‍රීතියෙන් සිටින්නේ නම් ඔහු තුති ගී ගයාවා!

යාකොබ් 5:13



පැවරුම

1. ඔබේ මිතුරකු වෙනුවෙන් කරන යාච්ඤාවක් ලියන්න.

# 10 අන් අය වෙනුවෙන් යදිමු

ශු. ජොහාන් 17 : 20



දරුවන්ට බොහෝ සේ ආදරය කරන ආදරණීය ජේසුස් වහන්ස,

අපි හැම මේ මොහොතේ අප වැනි දරුවන් ගැන ඔබ වහන්සේට යාච්ඤා කර සිටිමු.

මවුපියන් අහිමි මිතුරන්ට ඔබ වහන්සේ ඔවුන්ගේ දෙමාපියන් වෙන්නැයි කියා අපි ඉල්ලා සිටිමු.

නිතිපතා ආහාර නොලැබෙන දරුවන්ගේ කුසගින්න නිවා ගැනීමට ඔබ වහන්සේ පිහිට වෙන්න.

නොයෙක් රෝගාබාධවලින් පසුවන සහ අසනීපයෙන් සිටින මිතුරන්ට, ඔබ වහන්සේ දිව්‍ය වෛද්‍යවරයාණන් නිසා සුවය ලබා දෙන්න.

අප සභා පවුලේ සිටින මිතුරු මිතුරියන් ගැන තුති දෙමු. ඔවුන්ගෙන් ලැබෙන සතුට, සොම්නස ගැන ස්තූතියි. එකිනෙකාගේ අවශ්‍යතාවල දී උදවු කිරීමට අපට පුළුවන්කම දෙන්න.

දිළිඳුකම නිසා දුකට පත් ව සිතින් වේදනා විඳින දරුවන්ට ඔබ වහන්සේ පිහිට වෙන්න.

යුද්ධය නිසා පීඩා විඳින දරුවන්ට ද ස්වාභාවික ආපදාවලට මුහුණ පා සිටින දරුවන්ට ද ඔබ වහන්සේ පිහිට වෙන්න.

ලෝකයේ සියලු ම දරුවන් ඔබ වහන්සේගේ රැකවරණයට භාර දෙමින් අපි ද ඔබ වහන්සේට භාර වෙමු.

ආමෙන්.

**අපේ දිනපතා යාච්ඤාවේ දී අන් අය වෙනුවෙන් ද යදිමු.**



**කටපාඩම් පදය**

**ඉල්ලන්න, ඔබට දෙනු ලැබේ. සොයන්න, ඔබට සම්බ වේ. තට්ටු කරන්න, ඔබට දොර අරිනු ලැබේ.**

**ශු. මතෙව් 7:7**



පැවරුම

1. යාච්ඤා ඉල්ලීම් පෙට්ටියක් පන්ති කාමරයේ පවත්වාගෙන යන්න. සතියකට වරක් ඒ යාච්ඤා වෙනුවෙන් විවේක කාලයෙන් සුළු වේලාවක් යොදා ගෙන කණ්ඩායම් ලෙස යාච්ඤා කිරීමට පුරුදු වන්න.

# 11 ශුද්ධාත්මයාණන් වහන්සේ

ගලාති 5 : 22

| ඉවසීම | කරුණාව | යහපත්කම |
|---|---|---|

මම දෙවියන් වහන්සේට අයිති දරුවෙක් වෙමි. මගේ ජීවිතය යහපත් වන්නේ ශුද්ධාත්මයාණන් වහන්සේ මා තුළ වැඩවසන විට ය.

එසේ වූ විට, අන් අයගේ සමහර ක්‍රියා දුටු විට මා හට කෝපයක් ඇති වෙයි. එහෙත් **මම ඉවසීමෙන් කටයුතු කරමි.** අන් අය මට අකරුණාවන්ත වුවත්, මම ඒ අයට **කරුණාව** දක්වමි. ශුද්ධාත්මයාණන්ගේ මඟ පෙන්වීමෙන් **යහපත්කම** වැඩි දියුණු කර ගනිමි.

ජේසුස් වහන්සේට අයිති දරුවකු වීමෙන්, ඉහත ඵල මගේ ජීවිතයෙන් ප්‍රකාශ වන බව විශ්වාස කරමි.

**මම සැම විට ම ශුද්ධාත්මයාණන් වහන්සේට කීකරු වෙමි!**

**උන්වහන්සේට සවන් දෙමි!**



ආදරණීය ජේසුස් වහන්ස,

ප්‍රේමය, ප්‍රීතිය, සාමය, ඉවසීම, කරුණාව සහ යහපත්කම යන ශුද්ධාත්ම ඵල මා තුළ වඩවා ගැනීමට මට පිහිට වෙන්න.

ආමෙන්.



පැවරුම

1. මෙහි ඇඳ ඇති පරෙවියා පාට කරන්න. හොටයේ එල්ලා ඇති කාඩ්පත් තුළ ඔබ ඉගෙනගත් ශුද්ධාත්ම ඵල ලියන්න.



# 12 දැහැමිකම නිසා දේව කරුණාව ලද නෝවා

උත්පත්ති 6 : 9 - 7 : 10



ගුරුතුමිය : අද අපි බයිබලයේ සඳහන් වැදගත් පුද්ගලයකු හඳුනාගන්නයි යන්නේ. මේ චරිතය ශුද්ධ බයිබලයේ චරිත අතර ඉතා ආදර්ශවත් චරිතයක්.
ඒ තමයි "නෝවා" කියන දැහැමි මනුෂ්‍යයා.

ධනුෂ්ක : කාට ද ගුරුතුමී දැහැමි මනුෂ්‍යයකු කියන්නේ?

ගුරුතුමිය: දැහැමි මනුෂ්‍යයකු කියන්නේ. දෙවියන් වහන්සේ තුළ යහපත් ජීවිතයක් ගත කරන මනුෂ්‍යයකුටයි.

ඒ කාලයේ "නෝවා" කියලා ධර්මිෂ්ඨ, සත් ගුණවත් මනුෂ්‍යයෙක් ජීවත් වුණා. මේ මනුෂ්‍යයාගේ යහපත්කම නිසා දෙවියන් වහන්සේ ඔහුට ගොඩක් ආදරය කළා. ඒ නිසා ම දෙවියන් වහන්සේගේ කරුණාව ඔහුට ලැබුණා.

ඔන්න එක දවසක් නෝවාට දෙවියන් වහන්සේ කතා කරලා කිවුවා, ඉදිරියේ දී විශාල ජලගැල්මකින් මේ ලෝකය විනාශ වෙනවා කියලා. එම නිසා නෝවාට විශාල නැවක් සාදන්නැයි දෙවියන් වහන්සේ කිවුවා. එම නැවට වතුර ඇතුළු නොවන්නට "කීල්" නම් තාර වර්ගය තවරන්නැයි කීවා.

සැම වර්ගයක ම සතුන්ගෙන් ජෝඩුව බැගින් අරගෙන විශාල නැවට ඇතුළු කරන්නැයි දෙවියන් වහන්සේ පැවසුවා.

නෝවා දෙවියන් වහන්සේගේ අණට කීකරු වුණා.

කසුන් : ඇයි නෝවා කීකරු වුණේ?

**ගුරුතුමිය:** ඒ ඔහුගේ ධර්මිෂ්ඨකම නිසයි. ඔබ සැම දෙනාත් දෙවියන් වහන්සේ ඉදිරියේ ධර්මිෂ්ඨ ව සිටියොත් කිසි ම නපුරක් වෙන්න ඉඩ තියන්නේ නැහැ.

**ගීතානි :** ඉතින්... ඉතින්... ඊට පස්සේ මොකද වුණේ?

**ගුරුතුමිය:** නැව හදලා දින හතකට පස්සේ මේ මහා ජලගැල්ම ඇතිවුණා.
(දරුවෝ පුදුමයෙන් බලා සිටිති.)
දැන් අපි බලමු දෙවියන් වහන්සේ නෝවාට අශීර්වාද කළ හැටි.....

මේ ජල ගැල්ම දින හතළිහක් පුරා ම පැවතුණා. නෝවා තුළ තිබූ යහපත්කම අගය කළ දෙවියන් වහන්සේ ඔහු හා ඔහු සමග සිටි සියලු දෙනා බේරා ගත්තා. ඔහු මගින් අලුත් ලොවක් බිහිකළා.

දෙවියන් වහන්සේ තුළ පුංචි ඔබත් යහපත්, ධර්මිෂ්ඨ ජීවිතයක් ගත කළොත් අලුත් ලොවක් බිහිකරන්නට දෙවියන් වහන්සේ ඔබ තෝරා ගනීවි.



**දෙවියන් වහන්ස,**

**මාගේ මුළු ජීවිත කාලය පුරා ම ඔබ වහන්සේට කීකරු ව ජීවත් වෙමි. යහපත් ළමයකු වී ජීවත් වන්නට පොරොන්දු වෙමි. නෝවා මෙන් ඔබ වහන්සේ සමග සැම දා ම කතා කරන්නෙමි.**

**ආමෙන්.**



පැවරුම

1. හිස්තැන්වලට සුදුසු නිවැරදි වචනය නැව තුළ ඇති වචනවලින් තෝරා ලියන්න.

උත්පත්ති 6:9




................................ පිළිබඳ පුවත මෙසේ ය; ඔහු ................ ........................................ මිනිසෙකි.

ඔහුගේ පරම්පරාවේ ........................................ මිනිසා ඔහු විය. ඔහු ........................... සමග ................................... හැසුරුණේ ය.

# 13 ආබ්‍රහම් සහ ලොත්



උත්පත්ති 13 : 8 - 12

ආබ්‍රහම් සහ ලොත් යන
දෙදෙනා හොඳ නෑයෝ වූහ
දෙදෙනගෙ ගොපලුන් අතරෙහි
පොඩි ආරවුලක් ඇතිවිය//

ආරවුලක් නොවිය යුතුයි
ලොත් ඔබ හා මෙමා අතර
ඔබ ඉදිරියේ දේශය ඇත
තෝරගන්න කැමති ලෙසින//

ඔබ යන්නේ කොයි අතට ද
ආබ්‍රහම් කීව මෙලෙස
ඔබ දකුණට යන්නෙහි නම්
මම යන්නම් අනිත් දෙසට//

නෙත් ඇරලා බැලූ කලට
ජෝර්දනේ තැනිතලාව
ජලය හොඳට තිබුණ නිසා
ලොත් තේරුවේ ඒ පෙදෙසයි//

ආබ්‍රහම් තුමා ගියේ
කානාන්හි පදිංචියට
වෙන් වී දෙදෙනා මේ ලෙස
සමු දුන්නා එකිනෙකාට//

ආබ්‍රහම් ලොත් හමුවේ
පරාර්ථකාමී වුණේ ය
ලොත්ට කැමති වූ දේශය
තෝරා ගන්න ඉඩ දුන්නා//

දෙවිඳුගෙ ආසිරි ලැබ ගත්
ආබ්‍රහම් තුමා ලෙසට
දෙවිඳුගෙ දරුවන් විලසින
අපිත් මෙලෙස ජීවත් වෙමු//





අප දෙගොල්ල ම නෑදෑයින් බැවින් ඔබ හා මා අතරත් ඔබේ ගොපලුන් හා මාගේ ගොපලුන් අතරත් ආරවුලක් නොතිබිය යුතුයි.

(උත්පත්ති 13:8)



පැවරුම

1. ගැළපෙන පිළිතුර තෝරා යා කරන්න.

| (අ) | (ආ) |
|---|---|
| i. ආබ්‍රහම්තුමාගේ නෑයෙකි | ආබ්‍රහම් |
| ii. පරාර්ථකාමී ව කටයුතු කළේ | ජෝර්දාන් තැනිතලාව |
| iii. ලොත් තෝරා ගත් දේශය | ගොපලුන් අතර |
| iv. ආබ්‍රහම් තුමා පදිංචි වූ දේශය | ලොත් |
| v. ආරවුල ඇති වූයේ | කානාන්ය |

2. ඔබ අන් අය පිළිබඳ සැලකිලිමත් වෙමින්, පරාර්ථකාමී ව කටයුතු කළ අවස්ථාවක් අභ්‍යාස පොතේ ලියා, චිත්‍රයට නගන්න.

# 14 දේව කැමැත්තට අවනත වූ ජෝෂුවා

**ජෝෂුවා 6:1-6, 20**

ශුද්ධ බයිබලයේ සඳහන් යහපත් නායකයන් අතුරෙන් එක් කෙනකු තමයි ජෝෂුවා. ජෝෂුවා ගැන බයිබලයේ මෙසේ සඳහන් වෙනවා.

ඔහුගේ පියාගේ නම නූන්. ඔහු දෙවියන් වහන්සේගේ කැමැත්තට කීකරු වූ යහපත් නායකයෙක්.

ඒ කාලයේ "ජෙරිකෝව පවුර" කියලා පවුරක් තිබුණා. මෙම පවුර ආරක්ෂා කිරීම පිණිස අගුලු දමා වසා තිබුණා.



දිනක් ජෝෂුවාට දෙවියන් වහන්සේ කථා කොට, "ජෙරිකෝව යන නගරය නුඹලාට ලබා දෙන්නෙමි"යි ප්‍රකාශ කළා. දෙවියන් වහන්සේ ජෝෂුවාට විශාල වගකීමක් පැවරුවා. මෙම ශක්තිමත් පවුර බිඳ දමා

නගරයට ඇතුළු වීම සඳහා නායකයකු ලෙස ඔහු දෙවියන් වහන්සේ දුන් අණට කීකරු ව ක්‍රියා කළා.



ජෝෂුවා දවසකට එක් වරක් බැගින් දවස් හයක් ජෙරිකෝ පවුර වටා ගියා. පූජකවරු හත්දෙනෙක් හොරණෑ හතක් පිඹිමින් මේ විශාල පවුර වටේ ගියා.



**හත්වන දිනයේ දී**

ජෙරිකෝව පවුර වටා මෙවැනි වට හතක් ගියා.



එදා මහ පුදුම දෙයක් සිදු වුණා. හොරණෑ පිඹිමින් දෙවියන් වහන්සේට ඔල්වරසන් හඬ නගමින් යද්දී, අර මහ පවුර, කැඩී බිම ඇද වැටුණා. ජෝෂුවා ඇතුළු මුළු සේනාව ම නුවරට ඇතුළු වුණා......

බලන්න, දෙවියන් වහන්සේ කියපු දේට ජෝෂුවා කීකරු වූ නිසා, එදා මහ පුදුම දෙයක් සිදුවුණේ! කිසි ම ආයුධයක් නැතිවයි ඔවුන් මෙම පවුර බිම හෙළා නගරයට ඇතුළු වුණේ....

පුංචි ඔබත් නායකයෙක් වන බැවින්




දෙවියන් වහන්සේ ඔබට ජයග්‍රහණය ලබා දෙනු නොඅනුමාන ය.

ගායනා කරන්න.

සතුරු බලකොටු බිඳ හෙලා
ජේසුස් ජයගත්තා එදා
එ ජය මට ඇත ජීවිතේ
ජේසුස්ගේ නාමයෙන්

ජෙරිකෝව වටා සත්වරක් ගියා
ප්‍රශංසා හඬ පතුරා
ජය ලැබුවා සෙනඟ ජය ගත්තා
සතුරු බලය පරදා



**ආදරණීය දෙවියන් වහන්ස,**

**පුංචි මමත් ඔබ වහන්සේට කීකරු වෙමි. ඔබ වහන්සේ මට කතා කරන්න. පුංචි මා ද කැඳවන්න. මමත් ඔබ වහනසේට කීකරු දරුවෙක් වන්නට පොරොන්දු වෙමි.**

**ආමෙන්.**



පැවරුම

පහත දී ඇති වාක්‍ය හරි නම් "✓ " ලකුණ ද, වැරැදි නම් "X" ලකුණ ද ඉදිරියෙන් දී ඇති කොටුව තුළ ලකුණු කරන්න.

1. ජෝෂුවා දෙවියන් වහන්සේට කීකරු විය. ☐
2. ඔවුන් සටනට ගෙන ගියේ ආයුධ ය. ☐
3. පවුර කඩා වැටුණේ සත් වන දිනයේ දී ය. ☐
4. සත් වන දින ජෙරිකෝව පවුර වටා ඔවුහු එක් වටයක් ගියහ. ☐
5. ජෝෂුවා දෙවියන් වහන්සේගේ කැමැත්තට කීකරු විය. ☐

# 15 දානියෙල්

**දානියෙල් 6 : 10 - 23**

බබිලෝනිය කියන රාජ්‍යයේ, දාරියුස් නම් රජ කෙනෙක් සිටියා. ඔහු යුද්ධයේ දී ජුදා රටින් දානියෙල් නම් වූ කෙනෙක් බලෙන් තම රටට ගෙනැවිත් තිබුණා. ඔහු දෙවියන් වහන්සේට දිනපතා යාච්ඤා කළ කෙනෙක්. කලක් යන විට රජතුමා ඔහු ගැන විශ්වාස කර තමන්ගේ ඇමැති කෙනකු ලෙස දානියෙල් පත්කර ගත්තා. ඒ නිසා කිහිප දෙනකු දානියෙල්ට ඊර්ෂ්‍යා කළා. ඔවුන් දානියෙල් මරන්නට ක්‍රමයක් සෙව්වා. ඔවුන් රජතුමාට කියා රාජ ආඥාවක් නිකුත් කර ගත්තා. ඒ අනුව දින තිහක් යන තුරු මෙම දේශයේ රජු මිස අන් දෙවි කෙනෙකුට නමස්කාර නොකළ යුතු බවත් එසේ කළොත්, සිංහ ගුහාවට හෙළනු ලබන බවත් එහි දැක්වුණා.

පුරුදු පරිදි දානියෙල් දිනකට තුන් වරක් යාච්ඤා කරමින් සිටියා.




චරපුරුෂයෝ පැමිණෙති




රජතුමා ඉදිරියට දානියෙල් ගෙන යමින්
රජතුමනි, මේ මනුෂ්‍යයා ඔබ තුමාගේ අණ කඩකරමින් සිටියි.
අපි මොහු සිංහ ගුහාවට දමමු.
රජතුමා දානියෙල් බේරාගැනීමට සිතමින්
මා මේ මනුෂ්‍යයා බේරාගන්නේ කෙසේ ද?
දානියෙල් ගෙන ගොස් සිංහ ගුහාවට දමන ලදි
ආහ්!
දානියෙල් සිංහ ගුහාව තුළ සිට නමස්කාර කරමින්
රජතුමා දානියෙල් ළඟට පැමිණේ
ඔබ නිරන්තරයෙන් නමස්කාර කරන දෙවියන් වහන්සේ ඔබ ගලවා ගන්නවා ඇත.

රජතුමා පැමිණ,




රජතුමා දානියෙල්ට පීඩා කළවුන් සිංහ ගුහාවට හෙලනු ලැබීය.




දානියෙල් දෙවියන් වහන්සේ කෙරේ පමණක් විශ්වාස කළ නිසා දෙවියන් වහන්සේ සිංහ ගුහාවේ සිටි සිංහයන්ගෙන් දානියෙල් ගලවා ගත් සේක.



ආදරණීය දෙවියන් වහන්ස,
මම ඔබ වහන්සේ පමණක් විශ්වාස කරමි, අදහමි. කොපමණ බාධා කරදර පැමිණියත් මම ඔබ වහන්සේ නමදිමි.

ආමෙන්.



## පැවරුම

නිවැරදි පිළිතුර වරහන තුළින් තෝරා යටින් ඉරක් අඳින්න.

1. බබිලෝනියේ සිටි රජතුමා (දානියෙල් , දාරියුස්) ය.
2. රාජ ආඥාව පැවති දින ගණන වූයේ (30 , 3)
3. දානියෙල් දිනකට (හත්වරක් , තුන්වරක්) යාච්ඤා කළේ ය.
4. රජු දානියෙල් ව සිංහ ගුහාවට දැමුවේ (අකමැත්තෙනි , කැමැත්තෙනි)
5. දෙවියන් වහන්සේ දානියෙල් ව සිංහයන්ගෙන් (බේරා ගත් සේක, බේරා නොගත් සේක)

# 16 ජේසුස් වහන්සේ මෙන් වෙන්නම්

ශු. ජොහාන් 13 : 4 - 9

ගුරුතුමිය : අපි දැන් සූදානම් වෙන්නේ සත්‍ය සිදුවීමක් නාට්‍යානුසාරයෙන් රඟ දැක්වීමටයි. හැමෝ ම රවුමට වාඩිවෙන්න. හොඳයි මම එම සිදුවීමට අදාළ කෙටි හැඳින්වීමක් කරන්නම්කෝ.

අපි රඟ දක්වන්න යන්නේ "ජේසුස් වහන්සේගේ අන්තිම රාත්‍රි භෝජනයයි." ජුදෙව්වරුන්ගේ පාස්කු මංගල්‍යයට පෙර, මෙතුමා තම ශ්‍රාවකයන් සමග අන්තිම රාත්‍රි භෝජනය වැළඳීමට පැමිණ සිටියා. එම රාත්‍රි භෝජනය ද හරි ම වැදගත්.

කලින් සූදානම් කළ ආකාරයට, ජේසුස් වහන්සේගේ අන්තිම රාත්‍රි භෝජනයට අදාළ සිදුවීම රඟ දැක්වේ.



(රාත්‍රි භෝජනය වැළඳූ පසු ජේසුස් වහන්සේ තම උතුරු සළුව ගලවා තුවායක් ගෙන ඉණ වටා බැඳ එක් එක් ශ්‍රාවකයන්ගේ පාද සෝදා පිසදමමින් සිටී)

(එවිට පේදුරු තුමා පැමිණේ)

පේදුරු : ස්වාමීනී, ඔබ වහන්සේ මගේ පාදත් සෝදන සේක් ද? ස්වාමිනී ඔබ වහන්සේට මාගේ පාද නම් සෝදන්නට ඉඩ නොදෙමි.

ජේසුස් වහන්සේ : මා ඔබේ පාද නොසේදුවොත් මා සමග සම්බන්ධකමක් ඔබට නැත.



පේදුරු : එසේ නම් පාද පමණක් නොව ශරීරය ද සෝදනු මැනවි. (රංගනය අවසන් වේ)

ගුරුතුමිය : බලන්න, මෙය සත්‍ය වූ සිදුවීමක්. ජේසුස් වහන්සේ තමයි ගෝලයින්ගේ නායකයා හා ඔවුන්ගේ ගුරුවරයා. උන්වහන්සේ ගෝලයින්ට මහත් ආදර්ශයක් ලබා දෙනවා. මෙම සිද්ධිය තුළින් ජේසුස් වහන්සේ ලබා දුන් ආදර්ශ මොනවා දැයි කියලා කියන්න බලන්න දැන්.

සමන් : අපත් නිහතමානී විය යුතුයි.

සෙව්වන්දි : අපි යටහත් පහත් විය යුතුයි.

දෙව්රු : සැමට කරුණාවන්ත විය යුතුයි.

සාරා : අපි නිරහංකාරී ව ජීවත් විය යුතු බව.

ගුරුතුමිය: අන්න හරි.

ඔබත් ජේසුස් වහන්සේ මෙන්;

නිරහංකාර වන්න.



යටහත් පහත් වන්න.

කරුණාවන්ත වන්න.

මෙය ලෝකය උඩු යටිකුරු කළ සිදුවීමක්. මන්ද ජේසුස් වහන්සේ, දෙවියන් වහන්සේගේ පුත්‍රයා. එනමුත් තමුන්ගේ ගෝලයන්ගේ පාද සේදීමට තරම් නිහතමානී වුණා. පුංචි ඔබේ ජීවිතය තුළ ද ජේසුස් තුමා ජීවත් කරවන්න.



**පැවරුම**

පහත සඳහන් ප්‍රශ්නවලට කෙටි පිළිතුරු ලියන්න.

1. අන්තිම රාත්‍රි භෝජනය දිනයේ ජේසුතුමා කළ ආදර්ශවත් ක්‍රියාව කුමක් ද?
2. අන්තිම රාත්‍රි භෝජනය සඳහා ජේසුතුමා සමග සහභාගි වූවෝ කවරහු ද?
3. තම පාද සේදීමට මුලින් ම ඉඩ නොදුන් ගෝලයා කවුද?
4. මෙම සිදුවීම තුළින් ඔබේ ජීවිතයට ඇති කරගත යුතු විශේෂ ගුණාංගයක් ලියන්න.
5. පහත දැක්වෙන ආදර්ශ පාඨ කියවන්න.
   ගුරුතුමියට කටපාඩම් දෙන්න.

ජේසුස් වහන්සේ මෙන්,

- මම යටහත් පහත් ළමයෙක් වෙමි.
- මම තවත් නිහතමානී වෙමි.
- මම නිරහංකාර වෙමි.

# 17 අපිත් කමා වෙමු

ශු. ලූක් 23 : 24



සෙනසුරාදා දහවල් එකට පමණ අපේ නිවෙස ඉදිරියෙන් සීනුවක් නාද වුණි. ඒ වන විට මම අම්මාට නිවසේ වැඩට උදවු කරමින් සිටියෙමි. අපිට ලියුම් ඇවිල්ලා, කියමින් නංගී කෑගැසුවා ය.

"ආනේ.... ලියුමක්," යැයි කියමින් නංගී ලියුම් මාමාගෙන් එය ලබා ගත්තා ය. මුද්දරය උඩ ගසා තිබුණු මුද්‍රාව බණ්ඩාරවෙල ලෙස සඳහන් විය.



මම ඉක්මනින් එම ලිපිය කඩා කියවන්නට ගත්තෙමි. ලියුමේ අවසානයේ, 'ඉසුරු' ලෙස අත්සන් කර තිබුණි.

ඉසුරු මගේ පංතියේ යහළුවෙක්. මේක ඔහු ලියපු ලියුමක්.

ආදරණීය දෙව්රු,

දෙව්රු ඔයාගේ සැප සනීප කෙසේ ද? ඔයාට කියන්න මට විශේෂ දෙයක් තියෙනවා. ඔයා මාත් එක්ක තරහද? ඊයේ පංතියේ දී මම හිතුවේ පුංචි අම්මා මට නත්තලට තෑගි දුන්න පෑන ඔයා අරගත්තා කියලයි. මම ඒක නලින්ටත් කිවුවා. කුමුදු මිස්ටත් කිවුවා. අනේ දෙව්රු මට සමාවෙන්න. මට ලොකු වැරැදීමක් වුණේ. ඊයේ නිවාඩුවට අපි බණ්ඩාරවෙල ආවාට පස්සේ, මගේ පොත් අතර තිබිලා ඒ පෑන හම්බ වුණා. මම ඔයාගේ හිත හොඳට ම රිද්දුවා. වෙච්ච දේ හොයන්නෙ බලන්නේ නැතුව මම වැඩ කළා. අනේ.... ඔයා මා එක්ක තරහ ද? ඔයා මට සමාව දෙනව ද? මම ඔයාගෙන් පිළිතුරු ලිපියක් බලාපොරොත්තු වෙනවා.

ඔයාට ජේසු පිහිටයි!

මීට ඔබේ මිතුරු,

ඉසුරු

දෙව්රුගේ පිළිතුරු ලිපිය

දයාබර ඉසුරු වෙත,

මම ඔයා එක්ක කවදාවත් ම තරහ නෑ. මම ඔයාට සමාව දෙනවා. මට ටිකක් දුක හිතුණා තමයි. මම ඔයා ගැන යාච්ඤා කරනවා. අපි හැම දා ම හොඳ යහළුවන් ව ඉඳිමු. නිවාඩු කාලය ඉවර වුණු ගමන් කොළඹ එන්න. මම බලාගෙන ඉන්නවා.

මීට,

මිතුරු දෙව්රු.

ගුරුතුමිය : මේ ලිපිය කොතරම් ආදරණීය ද?

මීටත් වඩා ආදරණීය කතාවක් මම ඔයාලට අද කියන්නම්. අපගේ වැරැදිවලින් අප මුදා ගන්නා ජේසුස් වහන්සේ මේ ලෝකයට පැමිණුණා. උන්වහන්සේ කිසි ම වරදක් නැති දේව පුත්‍රයායි.

උන්වහන්සේ එදා මිනිසුන්ගෙන් නින්දා විඳලා, අපහාස විඳලා, කසපහර විඳලා කටු ඔටුන්නක් හිස පලඳමින් කුරුසියක් මත දිවි පිදුවා. ඒ මොහොතේ දීත් ජේසුස් වහන්සේ තමන්ට නිග්‍රහ කළ මිනිසුන් වෙනුවෙන් පියාණන් වහන්සේට මෙසේ යාච්ඤා කළ සේක.

**"පියාණෙනි, ඔවුන්ට කමා වුව මැනව. ඔවුන් කරන දෙය ඔවුහු නොදනිති"**



මෙම යාච්ඤාව කුරුසියේ එතුමා ප්‍රකාශ කළ පළමු වදන සේ හැඳින්වෙනවා.

කිසිදු වරදක් නොමැති ව ජේසුස් වහන්සේට කසපහර දුන් කුරුසිපත් කළ මිනිසුන්ට සමාව දීම කෙතරම් විශිෂ්ට ද? එදා ජේසුස් වහන්සේට මිනිසුන් ඇණ ගසන විට, තමන් කරන්නේ

වැරැද්දක් බව ඔවුන් නොදැන සිටින්නට ඇති. ඔවුන් නොදැන කළ වරදට ජේසුස් වහන්සේ ඔවුන්ට සමාව දුන් සේක.

පුංචි ඔබත් වැරැදි කරන අයට කමාව දෙන්න.
ඔබට වැරැදි කරන අය ගැන යාච්ඤා කරන්න.
ඔවුන්ට සමාව දෙන්න.

ඔබේ වැරැදිවලටත් ජේසුස් වහන්සේ කමා වන බව තේරුම් ගෙන උන්වහන්සේට ඔබගේ වැරැදි කියා සිටිමින් කමාව අයදින්න.



පැවරුම

1. ඔබේ පිළිතුර පහත දී ඇති කොටුව තුළ ලියා දක්වන්න.

   i. ඔබට වැරැදි කරන අයට ඔබ කමාව දෙන්න සූදානම් ද? ☐

   ii. ඔබ ඔවුන් ගැන යාච්ඤා කරනවා ද? ☐

2. ඔබට වැරැදි කළ අයට ඔබ සමාව දුන් අවස්ථා දෙකක් ලියන්න.

3. ජේසුස් වහන්සේ කුරුසියේ පැවසූ "පළමු වදන" ඔබේ අභ්‍යාස පොතෙහි සටහන් කරන්න.

4. ඔබට වැරැදි කළ අයට ඔබ කමාව දුන් අවස්ථාවක් චිත්‍රයට නගන්න.

දෙවිඳුනි,
ඔබේ දයා කරුණාවෙන්
මට අනුකම්පා කළ මැනව;

ගීතාවලිය 51:1

# 18 ශුද්ධ බයිබලය

ලොව පුරා සිටින කිතුනු බැතිමතුන්ගේ පූජනීය ග්‍රන්ථය වන්නේ ශුද්ධ බයිබලයයි. ශුද්ධ බයිබලය, පොත් 66 කින් සමන්විත ය.



ලොව වැඩිපුර ම අලෙවි වන පොත ලෙස සැලකෙන්නේ ද ශුද්ධ බයිබලයයි.

ශුද්ධ බයිබලය පොත් විශාල සංඛ්‍යාවක එකතුවක් බැවින්, එය පුස්තකාලයක් ලෙස සැලකේ.

එලෙස ම ලොව වැඩි ම භාෂා සංඛ්‍යාවකට පරිවර්තනය වී ඇති පොත වන්නේ ද ශුද්ධ බයිබලයයි.



පොත් 66

පැරැණි ගිවිසුම — පොත් 39

නව ගිවිසුම — පොත් 27

ශුද්ධ බයිබලය තුළින් දෙවියන් වහන්සේ හඳුනාගත හැකි ය.

දෙවියන් වහන්සේ ශුද්ධ බයිබලය තුළින් අපට කතා කරයි.

ශුද්ධ බයිබලය, ඉතා වටිනා ශුද්ධ වූ පොතකි. එම නිසා අප ශුද්ධ බයිබලය පරිහරණය කිරීමේ දී ඊට ගෞරව වන ලෙස භාවිත කළ යුතුයි.

ශුද්ධ බයිබලය අපගේ ජීවිත හැඩගස්වා ගැනීමට උපදෙස් දෙන ගුරුවරයෙකු වැනි ය.

එමනිසා දිනපතා ශුද්ධ බයිබලය කියවීම හා යාච්ඤා කිරීම අපගේ ජීවිතයේ කොටසක් බවට පත්කර ගනිමු.

අපි සැවොම ශුද්ධ බයිබලය අනුව අපගේ ජීවිත හැඩගසා ගනිමින් දෙවියන් වහන්සේට ප්‍රිය මනාප දරුවන් ලෙස ජීවත් වෙමු.



**අපි යාච්ඤා කරමු.**
**ආදරණීය දෙවි පියාණන් වහන්ස,**
**ශුද්ධ බයිබලය තුළින් අපට ලැබෙන සියලු ම ආශීර්වාද ගැන ඔබ වහන්සේට ස්තුති වේවා!**

**ආමෙන්.**



පැවරුම

පිළිතුරු ලියන්න.

1. ශුද්ධ බයිබලයේ ඇති මුළු පොත් ගණන ....................
   පැරණි ගිවිසුමේ පොත් ගණන ....................
   අලුත් ගිවිසුමේ පොත් ගණන ....................
2. දෙවියන් වහන්සේ අපට කතා කරන්නේ කුමක් තුළින් ද?
3. ශුද්ධ වූ බයිබලය අපගේ ජීවිතයේ කොටසක් බවට පත්කර ගන්නේ කෙසේ ද?

# 19 කමාව දුන් ජෝසෙප්

**උත්පත්ති 50 : 15 - 21**

ශුද්ධ බයිබලයේ සඳහන් වන ජෝසෙප් අපට ඉතා ම යහපත් ආදර්ශයක් හා මගපෙන්වීමක් ගෙන දෙන චරිතයකි. ජෝසෙප්ට ඔහුගේ සහෝදරයන් නිතර ම නපුරුකම් කළෝ ය. සහෝදරයන් විසින් ජෝසෙප් වෙනත් දේශයකට විකුණන ලදි. එහෙත් දෙවියන් වහන්සේ ඔහු ආරක්ෂා කර මිසරයේ (ඊජිප්තුවේ) යුවරජ බවට පත් වන්නට සැලසූ සේක.

කලකට පසු සාගත කාලයක් පැමිණුනි. ඔහුගේ සහෝදරයන්ට ජෝසෙප් සිටි දේශයට එන්නට සිදුවිය. ජෝසෙප්ගේ පියා වූ ජාකොබ්ගේ මරණයෙන් පසු ව, ජෝසෙප් ඔවුන්ගෙන් පළිගනීවි යැයි ඔහුගේ සහෝදරයෝ මහත් සේ බිය වූහ. මෙසේ බිය වූ සහෝදරයෝ පණිවුඩකරුවකු ලවා ජෝසෙප්ට පණිවුඩයක් යවමින්, දන්වා සිටියේ පියා මැරෙන්ට කලින් ඔවුන් කළ වැරදිවලට සමාව දෙන ලෙසට යි.

මෙම පණිවුඩය දැනගත් ජෝසෙප් මහත් සේ දුක් වී හඬන්නට විය. තමා සහෝදරයන්ට කරදරයක් කරන්නට කිසි විටකත් නොසිතූ බැවින් ජෝසෙප් දුක් විය.

ජෝසෙප් තම සහෝදරයන් කැඳවා සහෝදරයන් තමාට කළ වැරැද්ද සම්පූර්ණයෙන් අමතක කරමින් මෙසේ සමාව දුන්නේ ය.



ජෝසෙප් සහෝදරයන්ට මෙසේ කීවේ ය.

"බිය නොවන්න. දෙවියන් වහන්සේට හිමි තැන මට ගත හැකි ද? ඔබ නම් මට සතුරුකම් කළාහු ය. එහෙත් බොහෝ මිනිසුන්ගේ ජීවිත ගැලවීම සඳහා දෙවියන් වහන්සේ මා තෝරා ගත් සේක. එම නිසා බිය නොවන්න. මා ඔබට සමාව දී පිළිගෙන හමාර ය. මම ඔබේ සියලු පවුල් ගැන බලා ගන්නෙමි."

**ජෝසෙප්ගේ ජීවිතය තුළින් අපගේ ජීවිතයට ගත හැකි ආදර්ශ**

| ජෝසෙප් | ජෝසෙප් මෙන් මම ද |
|---|---|
| • තම සහෝදරයන් කළ වැරැදි අමතක කළේ ය. | • මා හට වැරැදි කරන අයගේ වැරැදි අමතක කරමි. |
| • සහෝදරයන්ට සමාව දුන්නේ ය. | • මට වැරැදි කරන අයට සමාව දෙමි. |
| • සහෝදරයන්ට සමාව දී ඔවුන් රැකබලා ගත්තේ ය. | • මට වැරැදි කළ අයට සමාව දී රැක බලා ගන්නෙමි. |



ආදර දෙවි පියාණෙනි,

මා හට වැරැදි කළ අයට ඒ වැරැදි අමතක කර සමාව දෙන්නට මම පොරොන්දු වෙමි. ඔවුන් රැකබලා ගන්නෙමි. පුංචි මට ද ජෝසෙප් මෙන් වන්නට පිහිට වුව මැනවි.

ආමෙන්.



## පැවරුම

1. පහත දැක්වෙන එක් එක් අවස්ථා නම් කරන්න.



.............................................

.............................................



.............................................

.............................................



.............................................

.............................................

2. ඔබට වැරැදි කළ අයට සමාව දුන් අවස්ථා දෙකක් අභ්‍යාස පොතේ ලියන්න.

# 20 ස්තේපන් මගේ වීරයෙක්

**ක්‍රියා 7 : 59 - 60**



මගේ නම මානෙල්. මම පාසලේ තුන්වන පංතියේ ඉගෙන ගන්නෙමි. හැම දා ම මා නින්දට යන විට අපේ අම්මා මට බයිබල් කතාන්දර කියා දෙන්නී ය. ඇය කියා දෙන රසවත් කතාන්දර අහන්න මා හරි ම ආසයි. මා ඒ කතා අසා නින්දට ගිය විටත් මට හීනෙන් පෙනෙන්නේ ඒ කතාන්දර ම ය.

දැහැමිකමින් දිවි ගෙවන්නට
ස්තේපන් මෙන් සිතට ගන්න
ගල් ගසලා මරන විටත්
කමා කළා ඔහු සැම හට

දණින් වැටී සිටින විට දී
ඇරුණා ස්වර්ගයේ දොරටු
මරණය අබියස නොපැකිළ
කමාව දුනි උතුම් ලෙසට



මානෙල් : කවුද අම්මේ ස්තේපන් කියන්නේ?

අම්මා : ස්තේපන් කියන්නේ ඉතා ඇදහිලිවන්ත කෙනෙක්. ඔහු දෙවියන් වහන්සේගේ ආශීර්වාද බොහෝ සෙයින් ලැබූ මිනිසෙක්. ස්තේපන් දෙවියන් වහන්සේගේ බලයෙන් අරුම පුදුම දේ ජනතාව අතර ඉටු කළ කෙනෙක්. ස්තේපන් දෙවියන් වහන්සේට කළ සේවය නිසා එය නුරුස්සන මිනිසුන් ඔහු අත්අඩංගුවට ගත්තා. ඔහුට බොරු චෝදනා එල්ල කර ඔහු මරා දැම්මා.



අම්මා : දුව ... ස්තේපන් ගල් ගසන මොහොතේ දීත් දෙවිඳුන් ඉදිරියේ දණින් වැටී,
"ජේසුස් ස්වාමීන් වහන්ස, මාගේ ආත්මය පිළිගත මැනව,"යි කීවේ ය. එසේ ම "මේ පාපය ඔවුන් පිට නොතැබුව මැනව," කියමින් මහා හඬින් මොරගැසුවේ ය.

මානෙල් : ස්තේපන් හරි ම පුදුම කෙනෙක් නේද අම්මේ?

අම්මා : ඔව් දුව, අපේ ජීවිතවලට කොපමණ කරදර, ප්‍රශ්න ආවත් ස්තේපන් තුමා ක්‍රියා කළා වගේ, ක්‍රියා කළ

යුතුයි. ස්තේපන්ගේ චරිතය අපට විශාල ආදර්ශයක් ගෙන දෙනවා. සතුරන් තමා මරන විට දී ද ඔවුන්ට සමාව දීමට ස්තේපන්ට හැකි වුණා. ස්තේපන්ගේ අවසාන යාච්ඤාව බලවත්. ඔහු තමාට පීඩා කළ අයට කමාව දෙන මෙන් යාච්ඤා කළා.

මානෙල් : හරි ම ලස්සන කතාවක්. මමත් ස්තේපන් වගේ වෙනවා. සුබ රාත්‍රියක්.





පැවරුම

1. පහත රූප සටහන පාට කරන්න.
2. ස්තේපන් තුළ තිබුණු යහපත් කිතුනු ගුණාංග දෙකක් අභ්‍යාස පොතේ ලියන්න.



# 21 ජීවිතයට මුතු

2 තිමෝති 3 : 15 - 16



ශුද්ධ බයිබලය ලෝකයේ ඇති උතුම් ම පොතයි. කුඩා කල පටන් ශුද්ධ බයිබලය කියවීමෙන්, අපගේ ජීවිත ආලෝකවත් වේ. ශුද්ධ බයිබලය කියවීමෙන් අපගේ ජීවිත යහපත් කර ගැනීමට ඉගෙන ගත හැකි ය. එබැවින් බයිබලය සෑම දිනක ම කියවා, එහි ඇති වටිනාකම් මාගේ ජීවිතයට එකතු කරගනිමින් මම ද වටිනා දරුවෙක් වෙමි.

**බයිබලය කියවීමෙන්**



ජීවිතයට යහපත් දේ ඉගෙනීමට ලැබේ.

ජේසුස් වහන්සේ කෙරේ ඇදහිල්ල වර්ධනය වේ.

# ශුද්ධ බයිබලය දිනපතා කියවීමෙන් අපගේ ජීවිතයට ලැබෙන මුතු





1. ජේසුස් වහන්සේ ගැන ඉගෙන ගැනීම
2. ජේසුස් වහන්සේගේ කැමැත්තට කීකරු වීම
3. යහපත් කිතුනු දරුවකු වීම
4. කරදර පැමිණි විට, ඒවාට මුහුණ දීමට අවශ්‍ය ශක්තිය ලැබීම
5. අයහපත දුරලීම
6. නපුරු දෙයින් ගැලවීම
7. ස්වර්ග රාජ්‍යය ගැන දැන ගැනීම
8. ජේසුස් වහන්සේගේ ආදරණීය දරුවකු වීම









## කටපාඩම් කරන්න

ඔබගේ වචන මාගේ දෙපයට පහනක් ය;



මාගේ මාවතට එළියක් ය;

ගීතාවලිය 119:105





පැවරුම්

1. කෙටි පිළිතුරු ලියන්න.

i. ඔබ දිනපතා බයිබලය කියවනවා ද? ...................

ii. ශුද්ධ බයිබලයේ එන ඔබගේ සිත්ගත් අවස්ථා තුනක් නම් කරන්න.

- ..............................................................
- ..............................................................
- ..............................................................

iii. අනෙක් පිටුවේ ඇති රූප සටහනේ බයිබලය යන අකුරු සොයා ගළපා පාඨකර වචනය මතුකර ගන්න.

